# ★★ අශීස්!

# ★★ අශීස්!!

# ★★ අශීස්!!!

★ මූලවාත, ★ අණ්ඩවාත, ★ හර්නියා
★ අංශභාගවාත

ස්ත්‍රී, පුරුෂ, මණුෂ්‍ය ශරීරයේ බඩවැල් හා
ගුදතලය හරස් කරමින් ක්‍රමයෙන්
සෑදෙන
කුඩාගෙඩි කල්යාමේදී ලොකුවී හරස්ව
පවතින විට

**අශීස් නමින් හැඳින්වේ.**

මෙය වියලි අශීස් හා ලේගත අශීස්
වශයෙන් සෑදේ.



වියලි අර්ශස් වලින් ගෙඩි ලොකුවී හිරවී තදවීමද අලේයන ර්ශස්වලින් ගෙඩි පුපුරා ලේ යාමද සිදුකෙරේ මෙම පීඩාකාරී අසනීපය පරම්පරා වෙත් විෂම ආහාර ගැනීම නිතර ඉදගෙන සිටීම කිරිපතුවන් ගුදනාලය කැම ම බද්ධය ආදී හේතුන් නිසා සෑදේ

## රෝග ලක්ෂණ වශයෙන්:-

ලේ යාම ගෙඩි හිරවීම, කිරිපතුවන් කැම, මල බඩය තුවාල බඩපුරවා දැමීම මල මහකැසීම සැරව දියර වශයෙන් ගැලීම බඩවැල පාත්වීම ඉසරදය කෙත්ති යාම කැම අරුචිය නින්ද අඩුකම මුත්‍රා අමාරු හිත ගත නොසන්සුන්වීම සිහිකල්පනා අඩුකම අනපය/රුදුව ආදී රෝග ලක්ෂණද පහලවේ

මෙම අර්ශස් රෝගයට කොපමණ වෙදකම් කලත් ඒවා සම්පූර්ණයෙන් සුවකර රෝග ලක්ෂණ ඉවත්කර අර්ශස් ගෙඩි වියලී ගැලවී යාමට නම් බඩ වැල්වල හා ගුද නාලයේ බැඳෙන ඔලභා කිරිපතුවන් ඉවත්කර මල මිශ හා ගුදනාලය හිස්ව පිරිසිදුව තැබීම අවශ්‍ය වේ එසේ පවතින විට මුලවාත හැදීන් වෙන වායුව හිස්වීම නිසා අගිස් ගෙඩි හා තුවාල සම්පූර්ණයෙන් වියලී යනු ඇත

වෛද්‍ය කර්මයෙන් අවුරුදු 35 ක පලපුරුද්දක් ඇති අපි විසින් රෝගීන්ට ප්‍රතිකාර යොදන විට අපෙන් ප්‍රතිකාර ගැනීමට පැමිණෙන අර්ශස් මූලවාත රෝගීන්ට සුවය ලබාදීමට නොයෙක් අන්දමේ ප්‍රතිකාර ක්‍රම සෙවුවෙමු යෙදුවෙමි නමුත් ඒ යෙදූ ප්‍රතිකාරවලින් අපි බලාපොරොත්තුවූ අන්දමට රෝගීන් සුවපත් නොවූ නිසා අර්ශස් රෝග සුවකිරීමට තව තවත් ප්‍රතිකාර ක්‍රම සෙවීමට යෙදීමට අත්හද බැලීමට සිදුවිය

එසේ වට්ටෝරු සොයා පැරනි පුස්කොල පොත් බලනවිට අහම්බෙන් මෙන් අවුරුදු දහස් ගණනකටත් වඩා පැරණි පරම්පරාගත පුස්කොල පොතක තිබී උපුටාගත් රහස් ඖෂධ වට්ටෝරුවක් දැකීම නිසා එය සාදා පැමිණෙන අර්ශස් රෝගීන්ට යෙදීමට පටන් ගත්තෙමු

## එම "ශමනාශීස් චූර්ණීය හා කල්‍යානාව ලේහය"

නැමති බෙහෙත් පංතිය යෙදූ සෑම අර්ශස් රෝගියෙක්ම ඔවුන් බලාපොරොත්තු වූ අන්දමට සුවය ලැබූහ. එබැවින් මෙම බෙහෙත් පංතිය අර්ශස් රෝගයෙන් පෙළෙන රෝගීන්ගේ සුවසෙත සලකා නිර්භයවම ඉදිරිපත් කිරීමට අදහස් කළෙමු.

දැනට මෙම බෙහෙත් පංතිය ලංකාවේ නොයෙක් පලාත්වල අර්ශස් රෝගීන්ට යොදා සුවපත්ව සිටින බව සංතෝෂයෙන් ප්‍රකාශ කරමු.

තවද විශේෂයෙන් සැකියයුතු කරුනක්නම් මෙම "සමනාශිස් චූර්ණය හා කල්‍යාණාව ලේහය" අපේ පෙරදිග බෙහෙත් ශාලාවට පැමිණ හෝ ලියා ලබාගන්නවා හැර වෙන කිසිම බෙහෙත් ශාලාවක හෝ වෙළඳ සැලක විකිනීමට තබානැත

කටුපොත "පෙරදිග චිකිත්සාගාරය හිමි වෛද්‍යවාචස්පති, එච්. පී. ආර්. ධර්මරත්න මහතාගේ බෙහෙත් ශාලාව කටුපොත නගරයේ හැර වෙණත් කිසිම නගරයකම ශාඛා හෝ ශෙල්ලයින් නැති බවද කරුණාවෙන් සලකන්න

එමෙන්ම අපේ ඖෂධ වර්ග හා බෙහෙත් ශාලාව වෙණත් කිසිම වෛද්‍ය වරයෙකු සමග සම්බන්ධ නැති බවද සලකන්න අපෙන් ඔබට ප්‍රතිකාර ගැනීමට අවශ්‍ය නම් කෙලින්ම මාර්ග විස්තරය අනුව කටුපොතට පැමිණ "පෙරග චිකිත්සාගාරය" නම් තිබෙද බලන්න පෙරදිග චිකිත්සාරය අංක 856 යටතේ රජයේ ලියා පදිංචිකර ඇති නිසා වෙනත් ශාඛා හෝ ස්ථාන නැත

ඔබ කෙලින්ම වෙනස වටහා ගැනීමට වෛද්‍යවාචස්පති, එච්. පී. ආර්. ධර්මරත්න මහතා ප්‍රතිකාර කරන්නේ කටුපොත පෙරදිග චිකිත්සාගාරයේ බව මතක තබාගන්න

පැමිණීමට අවශ්‍ය නම් අපි එවා ඇති මාර්ග විස්තරය බලා රැගෙන පැමිණෙන්න එසේ පැමිණීමට අපහසු රෝගීන් සම්පූර්ණ රෝග විස්තර ලියා නියමිත මුදල සමග එවන්න.

**බෙහෙත් පංතිය සති දෙකකට ප්‍රමාණවත්වේ. සම්පූර්ණ සුව ලැබීමට අඩු තරමින් මාස 2 ක් වත් නොකඩවා බෙහෙත් පංතිය ගත යුතුව ඇත.**

**මේ කාලයේ ඖෂධ මිල අධික නිසා සති දෙකට අවශ්‍ය බෙහෙත් පංතිය තැ: ගා: සමග දැනට මිල රු: 35.00**

අමතර වශයෙන් වෙනත් තෙල් බෙත් වර්ග යෙදීමට සිදුවුවහොත් ඒ සඳහා වෙනම හෝ අමතර මුදලක් අය කිරීමට සිදුවන බව තෙල් බෙත් මිල අධික මේකාලයේ ඒ ගැන සිතන්න

**සැලකිය යුතුයි:-**

**මේ හැර ස්ත්‍රී පුරුෂ තරුණ මහලු සියලුම මනුෂ්‍ය ශරීරයේ සෑදෙන දරුණු අංශභාග වාතය, අණ්ඩවාත, තරුණයින්ගේ ස්වප්න දොෂ, කෙට්ටුවීම ස්ත්‍රීන්ගේ ඇඟ උනුකරවායාම, දුර්වලවීම, බාලක පක්ෂාගාතය, කොරවීම, ග්‍රහණී මාන්දම් රෝග, මුත්‍රා රෝග, දියවැඩියාව, ප්‍රමේහ රෝග, පුරුෂ ශක්තිය ධාතු ශක්තිය හීනවීම නෂ්ටකාමය ලිංගිකා බාධ නාහර අප්‍රාණිකවීම ආදී සියලුම රෝග සඳහන් කර රෝග විස්තර ලියා එවා හෝ හමුවී ඉතාම ඉක්මන් සුව දෙන බෙහෙත් වර්ග ලබාගත හැක.**

සියලුම ලියුම් හා මුදල් ඕඩර් පහත සඳහන් ඇඩ්‍රසට
එවන්න.

## වෛද්‍යාචාර්ය, එච්. පී. ආර්. ධම්මරත්න

# පෙරදිග චිකිත්සාගාරය.

## කටුපොත.

**මාර්ග විස්තරය:-**

කුරුණෑගල සිට මහකෙලිය හරහා කටුපොතට කුලියාපිටිය සිට මූණමල්දෙණිය හරහා කටුපොතට, නාරම්මල සිට වාරියපොල මාර්ගය ඔස්සේ කටුපොතට පැමිණ, පෙරදිග චිකිත්සාගාරයට පැමිණෙන්න!

**පිහිටීම:-**

## කටුපොත වෙළඳ පොල සමීපයේ

# අර්ශස් රෝගීන්ට විශේෂ උපදේශ පොත.

බෙහෙත් පාවිච්චි කිරීමට පළමුව ඔබ මෙම විශේෂ උපදේශ පොත වාර කීපයක් හොඳින් කියවා බෙහෙත් පාවිච්චි කිරීමට පටන් ගන්න පළමුව බෙහෙත් වර්ග හුලං නොවදින පරිදි වීදුරු බෝතල්වලට අස්කර සුරක්ෂිතව තබා ගන්න ඔබට ඇති පහසුව අනුව බෙහෙත් පාවිච්චි කිරීමට යොදගන්න.

**බෙහෙත් පාවිච්චි කරන පිළිවෙල:**

නෙ.1 නො .ෂාන් රශායනලේහය දිනපතා උදේට පමණක් කලන් බාගයක් හෝ අමුනෙල්ලි ගෙඩියක් පමණ ඉදුන කෝලිකුට්ටු හෝ පුවාලු ගෙඩියක් සමඟ කාලා නිවුණ වතුර ටිකක් බොන්න.

නො2 නොහොත් ඒ සමග ඇති චූර්ණය දිනපතා රාත්‍රී 10 ට නින්දට කලින් වරකට කුඩා තේ හැඳි 2 ක ප්‍රමාණය උණු වතුරට දමා සූකිරි කුඩු හෝ සිනි ප්‍රමාණයක් මිශ්‍රකර කුඩුත් සමග කලවන් කර බොන්න.

**පහසුකම් අනුව විශේෂ ඖෂධ සංයෝග වර්ග**

ලේයාම තදින් පවතීනම් බෙහෙත් වර්ගවලට අමතර වශයෙන් (1) කරල් සැබෝ රතුලූනු තම්බා සිනි මිශ්‍රකර බීම හෝ (2) අලුකෙහෙල් අල, මාදම් පොතු, අට්ටික්කා පොතු, අහුර අහුර ගෙන තම්බා පෙරා සිනි හෝ මීපැණි මිශ්‍රකරඅමතර වශයෙන් බෙහෙත් වර්ග ගන්නා විට උදේ 9 සවස 3 ට වැනි අවස්ථාවක බීම හොඳයි

මූලයෙන් සෙම සොටු දියර මැලියම් වැනි අන්දමට පිටවන අයට අමතර ඖෂධ සංයෝග:—

(1) කොහිල අල රතුළුනු කොටා උණු වතුරෙන් මිරිකා ගිතෙල් මිශ්‍රකර බීම (2) බෙලිමද තම්බා පෙරා ගිතෙල් මිශ්‍රකර බීම,

(3) ඉරිවේරිය කෙළිද පොතු, නෙලුන්රේණු, දෙලුම් ලෙලි තම්බා පෙරා මී පැණි මිශ්‍රකර උදේ 9 සවස 3 වැනි අමතර කාලයක බීම හොඳයි.

තදින් ලේයන විට බාහිරවශයෙන්, නිවුණ වතුරට සීනක්කාරම් ටිකක් කුඩුකර දමා රෙදිකඩක් තෙමා මූලය තෙමීම, යටි බඩ තෙත් කිරීමෙන් ඉක්මනින් ලේ යාම අඩුවේ.

**මූලමය බඩවැල් පාත්වන රෝගීන්ට:**

(1) කුරමුල්, සිල මුල් බැබිලමුල්, රතුළුනු අලුකෙහෙල් අල අහුර අහුර ගෙන හොඳට තලා තම්බා පෙරා ගිතෙල් මිශ්‍රකරඋදේ 9 ට සවස 3 ට පමණ බීම, (2) තුඹ කොල රතුළුනු තම්බා පෙරා සීනිමිශ්‍ර කර උදේ 9 ට සවස 3 බීම හොඳයි.

**අර්ශස් වලින් ලේ යන විට:**

කොහිල අල රතුළුනු කොටා උණු වතුරෙන් මීරිකා ගිතෙල් පිටි සීනි මිශ්‍ර කර බීමෙන් ඉක්මනින් ලේයාම සුවවේ.

(2) නෙලුන් රේණු, හාතාවාරි අල පාවට්ටා මුල් කලාඳුරු අල කෂායට උක් පැණි දමා බීම හොඳයි,

**අර්ශස් ගෙඩි දියවීමට පිටතින් ගාන බෙත්:—**

මෙවායින් ඔබට පහසු යෝගයක් සාද තියා ගෙන, පහසු විටක පිටතින් ගාන්න

(1) සහිද ලුණු, තිප්පිලි මාරා ඇට සමව ගෙන වරා කිරෙන් අඹරා තියා— ගෙන අර්ශස්ගඩු පිට ගාන්න.

(2) බිංදුම්මල, සීනක්කාරම්, රත්නිටුල්, අමුකහ දෙහි ඇඹුලෙන් අඹරා ගෙඩි පිට ගාන්න ගඩු හිල්වී ලේ ගොස් අඩුවේ.

(3) කදුරු මුල් පොතු කුඩුකර කොහොඹ තෙලින් අඹරා ගෙඩිවල ගාන්න හිල්වී ලේ ගොස් සුවවේ.

**මූලමය ඉදුමුණ රෝගීන්ට;—**

(1) එල ගොම පොට්ටනියක් සාද වන්ඩුව බැඳ කෙහෙල් කොලයක් උඩ එල ගොම පොට්ටනිය තබා රත්කර මූලය තැවීම.

(2) සතකුප්ප තලා පොට්ටනි බැඳ වන්ඩුවේ තියා රත්කර මූලය තැවීම

(3) රතුළුනු ගිතෙල් සමග තලා මූලයට තබා බැඳීම හොඳයි ඉන් මූල ගෙඩි, ඉදිමුව දැවිල්ල අඩුවේ.

**බඩවැල් ඉහලට ඇදීමට දුම් අල්ලන බෙත් වර්ග;—**

කිඹුල්සම් හෝ කොටිසම් කැබලිවලට කපා අගුරුවලට දමා මූලයට දු

Rayamg
141

ඇල්ලීම හොඳයි.

(2) හුංඩුවක් මෙන් වලසාරා ඒ ඇතුලට පොල් බෑයක් පත්තුකර දමා ඒ පිටට මුගුණවැන්න කොල බෙලි කොල වැටහිරි කොල කොටා පත්තුවෙන පොල් බෑයට උඩින් දමා නැගෙන දුන් මූලයට අල්ලන්න.

## කැඳ වර්ග:-

උදේකාලයට, කොහිල, හාතාවාරිය අල පොල් සමග කොටා මිරිකා ගත් යුෂ කැකුලු හාල් රතුළුනු දමා උයා එයට මිරිකාගත් යුෂදමා කැඳ පිස කිතුල් හකුරු සමග බීම,

(2) ඉදිබොඩ පොල් සමග මිරිකා හාල් රතුළුනු දමා කැඳ පිස බීම හොඳයි

## කෂාය වර්ග අර්ශ රෝගීන්ට:-

ඉරමුසුමුල් තිරස්සවාලුමුල් මුද්රප්පලම් වැල් කහඹිලියාමුල් සෙනෙහෙ කොල, කටුකරෝසන, පාවට්ටාමුල්, අරළු කොහොඹපොතු වැල් කහබිලි යාමුල්, වෙනිවැල්ගැට, නෙරෙන්චි, කෙළිඳ ඇට මේවා කළඳ බැගින් ගෙන වතුර පත 8-1 ට කකාරා පෙරා සීනි මීපැණි මිශ්‍රකර කෂායක් තුන්වේල බැගින් කෂාය 4 ක් පමණ බොනවා.

## මූල ගෙඩිවල ගෑමට තෙලක්:-

කුප්ප මේනි කොළ යුෂ නියඳ අල යුෂ හිඟුරු පටේ යුෂ බටුකර යුෂ මේවා එක පමන ගෙන ,ඊට අමු ඉඟුරු, ගම්මිරිස්, කලුදුරු සූදුරු අසමෝදගම්, වදකහ, සීනක්කාරම්, සහිඳ ලුණු සුදුළුනු සමභාගව ගෙන අඹරා තලතෙල් දමා කකාරා ගෙඩි පිට උදේ සවස ගානු ගෙඩී දියවියයි

## ගෙඩිවල ගෑමට බේත්:-

(1) පුෂ්කර කබලෙන් බැද අලුකර ගිතෙල් මිශ්‍රකර ගෑම.
(2) යවකාර ලුණු දෙහි ඇඹුලෙන් අඹරා
(3) වෙඩිලුණු, සහිඳ ලුණු සුදුළුනු සමවගෙන අඹරා ගෙඩීපිට ගෑම හොඳයි

මෙම බේත් වගී ඔබේ පහසුව හා ගුණ ඇති අන්දමට සාදා පාවිච්චිකර බලන්න. ගෙඩී හීන්වීමට දියවීමට ප්‍රත්‍යක්ෂ බේත් වර්ගය.

## අර්ශස් රෝගීන්:-

බයිසිකල් පැදීම, බර ඉස්සීම, බඩ වියලවන උෂ්ණාධික කටුක ආහාරපාන

ගැනීම හොඳමයි.

**සැලකිය යුතු කරුණු:-**

ඉහත සඳහන් ප්‍රතිකාර ක්‍රම, අර්ශස් රෝගීන්ට ගුණදෙන ප්‍රත්‍යක්ෂ ඖෂධ බව සලකන්න. අමතර වශයෙන් ඒ ප්‍රතිකාර සමග සමනාගීස් චූර්ණ කලක් පාවිච්චි කිරීමෙන් මූල වායුව, රක්ත වාතය, බඩේ රෝග, සම්පූර්ණයෙන් සුවවන බව සිතන්න. තවද මූලවාත අර්ශස් රෝගීන් සඳහා රෝගී පරීක්ෂණයෙන් පසුවට රෝගයේ බලපෑම අනුව යෙදීමට නොයෙක් අන්දමේ බෙහෙත් වර්ග සූදානම්කර ඇති බැවින් නොපමාව පෙරදිග චිකිත්සාගාරයට පැමිණ අප හමුවන්න,

හමුවීම හා විමසීම:-

වෛද්‍යාචාර්ය, **එච්. පී. ආර්. ධර්මරත්න**

# පෙරදිග චිකිත්සාගාරය.

## කටුපොත.

කොපමණ දරුණු අංශභාග වාත රෝගයක් වුවත් **මහා පක්ෂාගාතාදි ඝෘතය (තෙල)** සහ **එම රශායන බෙහෙත් පංති**ය නොකඩවා මාස 1 හමාරක් ගැනීමෙන් නිට්ඨාවට සුවපත් වියහැකි බව සහතික කරමු.

**මාස 1 හමාරේ සම්පූර්ණ බෙහෙත් පංතියට රු; 275/-**

වැඩි විස්තර **කටුපොත පෙරදිග චිකිත්සාගාරයට පැමිණ හෝ ලිඛිත එවා ලබාගන්න.**

ශ්‍රී වර්ධන මුද්‍රණාලය - කටුපොත.

# විස්තර පොත. (අංක 2)

**හර්නියා නොහොත් අන්ත්‍රවෘධිය.**

මෙය මනුෂ්‍ය ශරීරයෙහි බඩවැල් පලල් වීමත් සමග මාංශ පේශින් බුරුල්වී ඉදිරියට නෙරා එන මාංශාර්බුද ශේෂයකි. යටිබඩ ප්‍රදේශය ආශ්‍රිතව ඉකිලියට උඩින් දෙඩම් බෑයකට සමානව ඉදිරියට නෙරාවිත් ඉලිප්පී පවතී.

ශරීරයේ වම් පැත්තේ හෝ දකුණු පැත්තේ හටගන්නා මෙය එක පැත්තක හෝ දෙපැත්තටම සෑදිය හැක. මේ අන්ත්‍රවෘධිය කැක්කුම වේදනාව නැතත් මාරාත්මක නොවූවත් ජීවිත කාලයටම කරදරකාරී වැඩ කට යුතු වලට අවහිරවන ආබාධයකි. නිදගෙන හෝ උඩුකර අතට දිගාවී සිටිනවිට ඉලිප්පී පවතින බඩවැල හා පේශි දිගහැරීම නිසා ඇතුලට ගිලේ. ඉඳගෙන හෝ සිටගෙන සිටින විට හැකිලීම නිසා ඉදිරියට නෙරාවිත් අතේ වැලමිට හැකුලුනාක් මෙන් තදව පවතී.

ආහාරපාන ගැනීම, වෙහෙසීම වැනි අවස්ථාවලදී නෙරීම වැඩිවන අතර වායුව ලිහිල්වන විට කුඩාවේ. පටන්ගන්නා අවධියේ සාමාන්‍ය ඉලිප්පෙන ගතිය ඇතිවිට වෛද්‍යෝපදේශ ගැනීම නොකලහොත් කල් යාමේදී ක්‍රමයෙන් ලොකුවී ගියොත් ශල්‍යකර්ම වලට මූණපෑමට සිදුවේ.

**හර්නියා නොහොත් අන්ත්‍රවෘධිය හේතු.**

අවිවේකී ස්වභාවය නිසා සුළු වශයෙන් රෝග ලක්ෂණ දනුනත් කැක්කුම රුදාව නොදැනීම නිසා මේ අර්බුදකාරී තත්වය ගණන් නොගන්නා සමහරු බර ඉස්සීම, වෙහෙසීම, බයිසිකල් පැදීම දිවීම පැනීම ලී ඉරීම ගැස්සීම වැනි ශරීරය හෙල්ලෙන ක්‍රියාවන් නිසා යටිබඩ පෙදෙසේ පේශිතව තවත් බුරුල්වීමට හැරේ. මේ අය රෝගී තත්වය ගැන නොබලා සේවයෙහි යෙදෙනවිට සාමාන්‍ය ස්වරූපය ගණන් නොගනී.

**විවේක ගැනීම,**

රෝගාබාධ වලට ප්‍රතිකාර යොදනවිට විවේක හා ගැලපෙන ආහාර පාන අවශ්‍යවේ. එයට හේතුව නම් ශරීරයේ බුරුල්වන නහර තන්තු මාංශ පේශි නැවත ශක්තිමත් වී ලියලීමට විවේකයක් පෝෂණාහාර පානත් අවශ්‍ය බැවිනි.

රෝග ලක්ෂණ දැනෙන මුල් අවස්ථාවලදී ප්‍රතිකාර ලබා සුව ලබා ගැනීමට පහත සඳහන් ප්‍රතිකාර ගන්න.

**හර්නියාව නොහොත් අන්ත්‍රවෘධියට ප්‍රතිකාර.**

1. කෂාය.

දැත්ත අල, බැබිල මුල්, වීයලි ඉඟුරු, කටු කරඬු මුල්, දේවදාර, නිකමුල් බෙලි මුල්, සුදුළුනු, කොල්ලු, උඳු, මේ ඖෂධ එක වශයෙන් කලන් 1 යි මදට 4 බැගින් ගෙන වතුර කාල් 8 - 1 ට සකාර පෙරා උදේට සහිඳ ලුණු සවසට සීනි මීපැනි දමා කෂායක් වෙල් 3 බැගින් කෂාය 6 ක් පමණ බොන්න.

2. කෂාය,

බෙලිමුල්, මිදිමුල්, තොට්ල්ල මුල්, පලොල් මුල්, ඇද්දෙඹට මුල්, පොල් පලා මුල්, කටුවැල්බටු, කෙරෙන්ච්, අස්වැන්න මුල්, අමුක්කරා අල, බැබිල මුල්, මේවා කළඳ බැගින් ගෙන වතුර කාල් 8-1 ට සකාරා පෙරා උදේට ශිතෙල් තේ හැඳි 1 ක් හා මීපැණි මිශ්‍රකර කෂායක් 3 වේල බැගින් කෂාය 8 ක් පමණ බොන්න. (මේ කෂාය අංශභාග වාත රෝගීන්ටද ගුණ දයකය.)

සෑදූ බෙහෙත් වශයෙන් අශ්වගන්ධාරිෂ්ඨය, දශමූලාරිෂ්ඨය, දන්ති අරිෂ්ඨය වැනි අරිෂ්ඨයක් දවල්ට රෑට කෑමට පෙර මේස හැඳි 1 ක් බැගින් බොන්න පිටතින් අශ්වගන්ධා තෙල, මහාමාෂ තෙල, බලා තෙල, ගාලා පතුරු කැල්ලක් තියා රෙදි පටියකින් ඉහවටා බඳින්න.

බඳින බෙත් හා මැල්ලුම්:-

3. මුරුංගා කොල, කුඹුරු කොල, බෙත් එඩරු කොළ, කොටා මලවා පය තෙල්, රත්කර තියාගෙන පිටතින් තෙල් ගාලා මැල්ලුම තියා තදවන පරිදි පතුරක් තියා බඳින්න.

4. අන්ත්‍රවෘද්ධිය සෑදී කල්ගතව ඇති ශල්‍යකර්ම වලට අකමැති රෝගීන් පර්මසියකින් හර්නියා බෙල්ට් එකක් ගෙන දැමීම හොඳයි, මේ රෝගීන් නිතර මෘදු වාත තෙලක් ගෑම මලබද්ධය නැතිකරන ඖෂධ ගැනීම හොඳයි.

5. මෘදු විරේක,

ගැට අරළු, අරළු, වැල්මී, සූකිරි, සෙනෙහෙග කොල, මේවා එක පමණ ගෙන හොඳට තලා පැහෙන උණු වතුරට දාා තැම්බුනාට පසු පෙරා සීනි මිශ්‍රකර රෑට නින්දට කලින් බීම හොඳයි.

**අණ්ඩවාතය,**

මේ ආබාධය බාල තරුණ මහලු සෑම වයසකම සෑදිය හැකි ආබාධයකි. මුලින් ආබාධය සෑදුන විට සම්පූර්ණ සුව ලබනතුරු ප්‍රතිකාර නොකර සාමාන්‍ය සුව ලබන විට නවත්වා අපථ්‍ය ආහාර විහරණ වල යෙදෙන විට නැවත නැවත මතුවී ශල්‍යකර්ම වලට පවා මූණදීමට සිදුවේ. ඒ හේතුව නිසා සම්පූර්ණ සුව ලබනතුරු ප්‍රතිකාර හා විවේක ගන්න.

**රෝග ලක්ෂණ,**

උදේ කාලයට අඩුවන සවස් කාලයට කැක්කුම වේදනාව වැඩිවන මේ ආබාධය පුරුෂයින්ගේ වම හෝ දකුණු අණ්ඩ කෝෂවලට සෑදේ. කෝෂ යට වැටී ඇති නහර ඉලිප්පීම කැක්කුම ඉදිමුම වායුව ගලාගන ඒම උඩින් නහර මතුවීම, කොාවීම, මලබද්ධය, ඇදුම කෑම හා එක කෝෂයක් අනින් කෝෂයට වඩා එල්ලා වැටීමද සිදුවේ.

**ප්‍රතිකාර.**

5. වැල්පෙනල සහමුලින් කලන් 12 ක් ගෙන වතුර කාල් 8–1 ට කකාර පෙරා උදේට එඬරු තෙල් හා සවසට සීනි මීපැණි කලවම් කර කෂායක් දෙවෙල බැගින් කෂාය 6 ක් පමණ බොන්න.

6. කුඹුරු ඇට, කොල්ලු, බෙත් එඬරු මුල්, වැල් පෙනලමුල්, මුඩමහණ මුල්, සුදුළුනු, බෙලි මුල්, මේවා කලන් 1 ක හමාරක් බැගින් ගෙන වතුර කාල් 8–1 ට කකාරා පෙරා සීනි මීපැණි මිශ්‍රකර කෂායක් දෙවේල බැගින් කෂාය 6 ක් පමණ බොන්න.

7. නහර බලකාරක අශ්වගන්ධාරිෂ්ඨය, බලාරිෂ්ඨය, අමෘතාරිෂ්ඨය වැනි අරිෂ්ඨයක් දවල්ට රෑට අංහාරයට පෙර අවුන්ස 2 ක් බොන්න.

8. රශායන බේත් වශයෙන් කල්‍යානවලේහය, චන්ද්‍රප්‍රභාවටිකාව, වැනි වායු වර්ධන බේතක් කලක් පාවිච්චි කරන්න.

9. තැවිලි.

උළුහාල්, තලා පොට්ටනි බැඳ වන්ධුවේ තියා රත්කර මෘදු තෙලක් ගා උඩින් තැවීම හොඳයි.

10. ඉදිමුම තදින් පවතිනම් කුඹුරු කොළ කොටා මලවා මී තෙල් ගා තවා පිටතින් ඒ තැවිලිම තියා බැඳීම හොඳයි

මේ ආබාධයෙන් සම්පූර්ණ සුව ලබනතුරු බර ඉස්සීම වෙහෙසීම හොඳ මදි මෘදු විරේක නිතර කළයුතුයි.

**මලබඩය.**

අද බොහෝ දෙනෙකුට පවතින මේ මලබඩය අද බොහෝ දෙනෙකුට පවතින ආබාධයකි. ශරීර උෂ්ණය දියර අඩු ආහාර ගැනීම අවිවේකී ගතිය නිසා මේ බලපෑම ඇතිවේ. බොහෝ අය මේ මලබඩයෙන් පීඩා විඳින බව කියති.

මලබඩයට ප්‍රතිකාර යොදනවාට වඩා සුදුසු ආහාරපාන පිළියෙල යොද ගැනීමෙන් එය සදහටම අඩුකර ගත හැක. ආහාර ගැනීමට පසු කුරුම්බා වතුර බීම, රෑට නින්දට කලින් බටර් තේ හැඳි 2 ක් ගිලලා නිවුන වතුර කක් බොනවා.

ආහාරයට පසු බෙලිමද කෑම, සාරණ කොල, මුරුංගා කොල, පලා කොල, කංකුං කොල, පැපොල් ඉදුන ඒවා යහ මාලුවට් මැල්ලුමට ගැනීම වැනි ආහාර මාරුවෙන් මලබඩය අඩුකරගත හැක.

11. ප්‍රතිකාර වශයෙන් උදේට හෝ පහසුවිට කිරි වලට එළඟි තෙල් තේ හැඳි කීපයක් දමා සීනි දමා බීමද එළකිරි නිතර බීමද මලබඩයට ගුණදෙන බව සඳහන් කල හැක

12. ලුනුවිල අඩු තම්බා උදේ සවසට සීනි දමා බීම හොඳයි.

**මල බඩයට ඖෂධ සංයෝග.**

ගැට අරළු, වැල්මී, සෙනෙහෙ කොල, මේවා එක පමණ ගෙන කබලෙන් රත්කර කුඩුකර එයට සමානව සූකිරි මුද්දරප්පලම් දමා අඹරා තියා ගෙන රාත්‍රී නින්දට කලින් කලඳක් පමණ කාලා වතුර බී නිදගැනීමෙන් මලබඩය අඩුවේ.

වයස් ගතවූ අයට බලපාන මේ මලබඩයට ඉහත සඳහන් කළ ඖෂධ සංයෝග හා ආහාරපාන සුදුසුය. එසේ නැතුව මලබඩය අල්ලා සිටියොත් මූල ගෙඩි සෑදීම, ලේ යාම නින්ද අඩුකම, ආහාර අරුචිය ඇතිවිය හැක.

**කිරිපණු රෝග,**

ගුදවලියේ මල කොටස් පල්වීම නිසා ඇතිවන වායු පීඩනයෙන් ස්වභාවිකව සෑදෙන පණු බිත්තර නිසා කිරි පණුවන් උපදී. මොවුන් මලාශයේ සිට ගුද නාලය දක්වා ගලාවිත් නිතර මූලය හා මල මාර්ගය සිදුරු කිරීමට පමන් ගනී, මේ හේතුවෙන් තුවාලවන මල මාර්ගය හා ගුදවලිය බිබිලි මතුවී ක්‍රමයෙන් ගෙඩි සෑදී ඒවා අර්ශස් බවට හැරී ගෙඩි හිරවීමට ලේයාමට පටන් ගනී. එබැවින් මලබද්ධයෙන් හා කිරිපණු රෝගයෙන් ආරක්ෂාවීම මූල අර්ශස් රෝග වලින් මිදීමට ඇති ප්‍රධානම පිලියමයි මල බඩය නිසා ගුදනාලය පිපිරීමෙන් කැක්කුම වේදනාව දැවිල්ලද ඇතිවේ.

**කිරිපණු රෝගයට ප්‍රතිකාර හා උපදෙස්,**

1. නිතර බඩ විරේකයක් කිරීම
2. මුරුංගා කොල රතුළූනු තම්බා උදේ සවස බීම,
3. එරබදු කොළ, රතුළූනු තම්බා උදේ සවස සහිඳ ලුනු මිශ්‍රකර හෝ සීනි දමා බීම හොඳයි.
4. වලහසාල් කබලෙන් රත්කර කුඩුකර කෝපිමෙන් බොන්න.
5. වළහසාල්, මුරුංගා මුල්, ගොටු දඬු, සුදුළූනු, අරළු මේවා සමභාගව ගෙන වතුර පත 8 - 1 ට කකාරා පෙරා සීනි මිශ්‍රකර උදේ සවසට කෂාය කලක් බීම හොඳයි,
6. ඇහැල කොල, රතුළූනු, සරක්කු, පොල් දමා මලවා රට ආහාරය සමග ගන්න. ටිකක් කැක්කුම් සහිතව වුවත් කිරි පණුවො මල සමග පිටවේ. එමෙන්ම ඇත්තෝර කොළ මලවා කෑමද හොඳයි. සුලු වශයෙන් බඩ කැක්කුම් කරන ගතියක් දැනෙන්නම් සෝඩා වතුර ටිකක් බොන්න.

**පණු රෝග මර්ධනය,**

මලාශයේ හා ගුදවලියේ උපදින පනුවන් විසින් පිට කරන කිරිපනු බිත්තර දහස් ගණනින් ගුදවලියේ පවතිනු ඇත,
බෙත් වර්ග ගැනීමෙන් මේ පණුවන් පිටවී මැරී ගියත් ඉතිරිවන බිත්තර පුපුරා නැවත පණුවන් මෙරීම නිසා නැවත නැවතත් කිරිපණුවෝ මලාශයේ සිට ගුදවලිය සිදුරු කිරීමට පටන්ගනී. මේ හේතුව නිසා යම්කිසි ප්‍රතිකාරයක් අනුගමනය කරන්නේනම් මලාශයෙන් පණුවන් හා පණු බිත්තර ඉවත්වන ප්‍රතිකාර ක්‍රමයක් අනුගමනය කරන්න. එවිට කිරිපණු රෝගයෙන් සදකල්හිම වැලකී සිටිය හැක.

ලියුම හා විමසීම, එච්. පී. ආර්. ධර්මරත්න
**පෙරදිග චිකිත්සාගාරය.**
කටුපොත

# අංශභාග හා දරුණු වාත

## රෝගීන්ට ප්‍රතිකාර හා උපදෙස්.

සියලු සත්වයෝම තමන්ගේ ජීවිත කාලය තුල කුමන අන්දමේ අසනීපයකට හෝ අසනීපවලට ගොදුරුවීම ස්වභාවික කරුණකි. මෙ රෝග පිඩා වෙන් වශයෙන් බලනවිට විෂ බීජ නිසා ලෙඩවීම, මන්ද පෝෂණය, විෂමාහාරපාන තුන්දෙස් කිපිම, කැඩිම, බිදීම, තැලීම, හදිසි අනතුරු ආදී නොයෙක් කරුණු වලින් පිඩා විඳිති.

නමුත් මේ රෝගාබාධ අතුරින් දනට බෝවෙන රෝගවලට සමානව මනුෂ්‍යයාට බලපාන වාත රෝග අධික නිසා ඒ රෝග සම්බන්ධව හැඳින්වීමක් හා ප්‍රතිකාර පංතියක් රෝගී ජනයාගේ ප්‍රයෝජනය සඳහා බෙදදීමට අදහස් කලෙමු. ඒවා ඉතා ප්‍රත්‍යක්ෂ අත්දුටු රහස් වට්ටෝරු බව සලකන්න

**වාතරෝග සෑදීමට හේතුවන කරුණු:-**

ශරීරය ඇටකෝටු වලින් කොටුකර අභ්‍යන්තරය ක්‍රියාකාරක ඉන්ද්‍රිය යන්ද පිටතින් පේශී හා ස්නායු පට්ටල වලින් වෙලි ඇති ස්වතන්ත්‍ර ප්‍රාණ වායුව රැඳි ඇති භූතප්‍රංජයකි. ස්නායුන්ගේ ක්‍රියාකාරිත්වයත් ස්නායු හා මාංශ පේශින්ගේ දිගහැරීම හා හැකිලිම නිසාත් ක්‍රියාකරන ශරීරයේ ප්‍රාණ වත්කම රැදිපවතින්නේ සප්ත ධාතුන්ගේ පෝෂණයත් වා පිත් සෙම් යන දෝෂවල ධාතුන්ගේ සම්බන්ධයත් ඇතිවය.

මෙසේ පවතින ශරීරයට ඒ සප්ත ධාතුන්ගේ හෝ දෝෂ ධාතුන්ගේ අඩුවැඩිවීම වරින්වර සිදුවන කරුණකි. ඒවායෙ සම විෂම වීම අනුව මනුෂ්‍යයා ලෙඩකරවීම හා ශක්ති සම්පන්නව ජීවත්කරවීම හෝ මරණය සිදුවීම ස්වභාවිකව බලපාන්නකි.

විෂමාහාර ගැනීම, නිදිමැරීම, අධික කාම සේවනය පිණි බැම, ශීතල වැදීම, අවේලාවේ ඇල්දිය, අධික බර ඉස්සීම, සීමාව ඉක්මවා ශරීරය වෙහෙසීම, වැනි කරුණු වලදී තුන්දෙස් හෝ ලේවල පීඩනය ඇතිවී ඉන්ද්‍රිය ශක්තිය හීනකරවමින් වාතරෝග ලක්ෂණ පහලවීමට පටන්ගනී ඒවා සාමාන්‍ය වශයෙන් සෑදී පසුව වැඩිවීමට හෝ සුවවීමට හැරේ. ඒ අතර සමහර වාතරෝග, සුවනොවී කල් අල්ලා සිටිමද වෙ. මෙ අනුව බලනවිට වාතරෝග මිනිස් ශිරුරට ඉතාම පීඩාවන් ගෙනදෙන රෝග ලක්ෂණ පහල කරවන්නකි.

එබැවින් පහත සඳහන් කර ඇති වාත රෝග ප්‍රතිකාර, කිසිම වෛද්‍ය වරයෙකුගේ උපදෙස් නැතිව ඔබට සාදගෙන යොද සම්පූර්ණ සුව ලැබිය හැකි ඉතාම ප්‍රත්‍යක්ෂ රහස් වට්ටෝරු බැවින් රෝග ලක්ෂණ අනුව මෙ ප්‍රතිකාර යොදගෙන සුවපත්වන්න.

**වාත රෝගීන්ට ප්‍රතිකාර හා උපදෙස්.**

වාත රෝගීන් හැම ශීතල වැදීම වෙහෙසීමෙන් සුවවනතුරු ඇඳේ විවේක ගෙන ප්‍රතිකාර ලබන්න.

**හදිසියේ ඇතිවන වාත රෝග වලට:-**

1. කොල්ලු, සුදුළූනු, බෙලි මුල්, අරත්ත අල, මේවා කලන් 3 බැගින් ගෙන වතුර පත 8 — 1 ට සකාරා පෙරා සීනි මිශ්‍රකර උදේ සවස කෂායක් දෙවේල බැගින් කෂාය 4 ක් පමණ බොන්න,

2. කොල්ලු, සුදුළූනු, උළුහාල් සමභාගව ගෙන තම්බා පෙරා සීනි දමා රාත්‍රී නින්දට කලින් බොන්න

**3. සෙම උණ සහිත සාමාන්‍ය වාත රෝග වලට,**

කොත්තමල්ලි, අමු ඉඟුරු, දේවදාර, එලබටු, කටුවැල් බටු, ත්‍රිප්පිලි, මේවා කලඳ බැගින් ගෙන වතුර පත 8-1 ට සකාරා පෙරා සීනි දමා උදේ සවස කෂාය 4 ක් පමණ බොන්න.

**4. කඳබල සෙම උණ සහිත වාත රෝගවලට,**

දේවදාර, පත්පාඩගම්, සිරිතේක්කු, වදකහ, කොත්තමල්ලි, අරලු, වියලි ඉඟුරු, බිං කොහොඹ, කලාඳුරු අල, ඇද්දෙඹට මුල්, පාවට්ටා මුල් මේවා කලඳ බැගින් ගෙන වතුර පත 8-1 ට සකාරා පෙරා සීනි මිශ්‍රකර ක්ෂායක් වේල් තුන බැගින් උදේ සවස කෂාය 4 ක් පමණ බොන්න. රට බත් කැඳ මෙන් වැලකී පාන් රෝස් පාන් විස්කෝතු මෝල්ටඩ් පිටි වර්ග ගන්න. උණ වේගය අධික නම් ඇස්ප්‍රින් පෙත්තක් ගැනීමද වාත තෙලක් ගාලා ආඩාතෝඩා කොල පොට්ටනියෙන් තැවීමද උණ, සෙම, වාත වේදනා වලට හොඳයි.

**අංශභාග වාතය සෑදීමට හේතුවන කරුණු,**

තමන්ගේ ශරීරයට නුසුලනා තරමට මත්පැන් ගෙන නිරාහාරව දවස් ගණන් ගත කරති. මේ හේතුව නිසා මත්පැන් වල ඇති ඇල්කොහොල් වලින් ශරීර ඉන්ද්‍රියයන් හා නාඩි තන්තු වියලී ගොස් ශරීරයට අවශ්‍ය රස ඕජස් වියලීමට පටන්ගනී. එවිට ශරීරයේ ශක්තිය රඳා පවතින ප්‍රධාන නහර හා මාංශ පේශි දුර්වලව රුධිර පීඩනය වැඩිවී ලේනල තදවී මාංශ පේශි බුරුල්ව අංශභාග වාතරෝග ලක්ෂණ පහළවේ.

ඒ තත්වය එසේ වන අතර මේ රෝගයට තවත් කරුණු හේතුවේ. අධික ස්ත්‍රී සේවනයෙන් ධාතු ක්ෂයවීම, කැඩීම්, බිඳීම, ඉසට පහර වැදීම, කොඳු ඇට බිඳීම, ශරීරයට විෂ වැදීම, ශරීරයෙන් ලේ යාම, නද ශීතල වැදීම, ප්‍රමාණයට වඩා බර වැඩ කර ශරීර ශක්තිය බිඳීම, ශරීරයේ සප්ත ධාතු හීනවීම, මහලු වයසට ගොස් ඉන්ද්‍රියයන් දුර්වලවද අංශභාග වාත රෝග සෑදීමට හේතුවේ.

**අංශභාග රෝග ලක්ෂණ,**

ශරීරය අප්‍රාණිකවීම, මුහ කට ඇස් ඇදවීම, කඳුළු ගැලීම, සිහි නැතුව

ඇද වැටීම, කථාව ගොතවීම, ක්ලාන්ත, සිහිමද ගතිය, කොන්ද තුනටියෙන් පහල හෝ එක අංගයක් පණ නැතිවීම, ආදී රෝග ලක්ෂණ පහලවේ. සමහරවිට මේ රෝග ලක්ෂණ සමග මොලේ හෝ හෘදයේ ලේ කැටි ගැසී නහර පුපුරා හදිසියේ ඇදවැටී මරණය පවා සිදුවීමට ඉඩ ඇති දරුණු වාත රෝග පවා සෑදීමට ඉඩ ඇත.

**සුව කිරීමට හැකිබව හෝ නොහැකි බව තීරණය කිරීම හා සුව නොවී අඩපණව ජීවත්වීම.**

මේ තත්වය තීරණය කල හැක්කේ රෝගියෙකු හරිහැටි පරීක්ෂා කිරීමෙන් පසුවටය. නමුත් ඒ තත්වයද රෝගීයාගේ ශරීරයේ නහර ස්නායුවල හා ධාතු ඕජස්වල පූර්ණභාවය හා ඉන්ද්‍රියන්ගේ ශක්තිය ක්‍රියාකාරීත්වය අනුව රදපවතින බව අවබෝධ කරගන්න. ඒ අනුව සමහර රෝගීන් සම්පූර්ණ සුව ලබති. සමහර රෝගීන් කලක් පමණක් ජීවත් වෙති සමහර රෝගීන් හදිසියේම මියයති. එය රෝගි තත්වයේ අනුව බලපාන්නකි,

**අංශභාග රෝගීන්ට අත්දුටු ප්‍රතිකාර හා උපදෙස්;**

රෝගයේ මුල් අවස්ථාවේදී රෝගියා සම්පූර්ණ විවේකයෙන් තබා ඇප උපස්ථාන කිරීමට කෙනෙකු තබන්න. රෝගියාට තනිවම නැගිටීමට ඇවිදීමට ඉඩ නොදෙන්න.

1. රුධිර පීඩනය ලේ ගමන තිබෙනම් එය අඩුකර ගැනීමට පහත සඳහන් කෂාය වර්ග දෙන්න.

උදේ සවසට කෂාය,-

සුදුළූනු, වියලි ඉඟුරු, කොල්ලු, තිප්පිලි මුල්, උඳු, කලාඳුරු අල, බෙලි මුල්, මිදි මුල්, බෙත් එඬරු මුල්, වදකහ, බැබිල මුල්, කටුකරඬු මුල් මේවා කලඳ බැගින් ගෙන වතුර පත 8-1 ට කකාරා පෙරා සීනි මීපැණි දමා කෂායක් දෙවෙල බැගින් උදේ සවසට දෙන්න.

උදේ 9 සවස 3 ට පමණ චන්ද්‍රප්‍රභා ගුලි හෝ යෝගරාජ ගුලිය පෙති 2 ක් මීපැණි සමග ගිලලා සුදුළූනු උළුහාල් තම්බා පෙරා දෙන්න. දවල්ට රෑට ආහරයට පෙර බලාරිෂ්ඨය අවුන්ස 1 ක් දෙන්න සිඩාර්ථ වැනි තෙලක් ගා අබ, මුරුංගා මුල්, සාරණ මුල්, අමු ඉඟුරු, දේවදර, සුදුළූනු එක පමණ ගෙන හොඳට කොටා පොට්ටනි බැඳ වන්ඩුවේ තියා රත්කර කොඳු ඇට පෙළ දිගට හන්දි ස්ථාන තවන්න මේ දින 3 කට ප්‍රතිකාර කරන්න.

2. ඊට පසු උදේ සවසට

දශමූල, අරත්ත අල, බැබිල මුල් කටු කරඬු මුල්, උඳු, අමුක්කරා අල පාවට්ටා මුල් හෘතාවාරිය අල මේවා කලඳ බැගින් ගෙන වතුර පත 8-1 ට කකාරා පෙරා සීනි මීපැණි දමා උදේ සවස කෂායක් තුන්වෙල බැගින් කෂාය 4 ක් පමණ දෙන්න,

, උදේ 9 ට රෑ 9 ට රාෂ්ණ ගුගුලි පෙති 2 ක් මීපැණි සමග අනා ගිලලා කොල්ලු, බෙලි මුල්, සුදුළූනු, මේවා එක පමණ ගෙන තම්බා පෙරා සීනි දමා දෙන්න. දවල්ට රෑට ආහාරයට පෙර බලාරිෂ්ඨය හෝ දන්ති අරිෂ්ඨය වරකට මේස හැඳි 1 ක් පමණ දෙන්න. කැවිල්ලක්, තල, ඉකාට්ට පොල් මී ඇට මද, යතඹුප්ප, කපු ඇට මද, බෙත් එඬරු ඇට මද, කොල්ලු, සුදු ළූනු, මේවා එක පමණ ගෙන හොඳට කොටා පොට්ටනි බැඳ වන්ඩුවේ

තියා රත්කර නාරායන හෝ සිඩාර්ථ වැනි තෙලක් කොඳු ඇට පෙල දිගට හන්දි ස්ථානවල ගා තවන්න.

වෙදුමක්.

බෙලි කොල, මුරුංගා කොල, අමු අරත්ත අල, අමු වදකහ, කුඹුරු කොල, බෙත් එඬරු කොල, කටු කරඬු කොල, නික කොල, මේවා එක පමණ ගෙන හොඳට කොටා කට කුඩා මුට්ටියකට දමා කට වසා හොඳට තම්බා නාසයෙන් කටින් දුම් ඇල්ලීම හොඳයි. ඒ වෙදුවම කොඳු ඇට පෙල දිගට තෙල් ගාලා කොන්දට දුම් ඇල්ලීම සවස් කාලයට හොඳයි. ආහාරපාන විස්තරය බලා ආහාරපාන දෙන්න. ඉසටද තෙල් ගාන්න.

**නිදන්ගත පැරණි අංශභාග රෝගීන්ට ප්‍රතිකාර හා උපදෙස් රහස් වට්ටෝරුවක්.**

5. බැඳපු උඳු, බින්තල් අල, සුදු හඳුන්, අමුක්කරා අල, බැබිල මුල්, හාතාවාරිය අල, මුද්දරප්පලම්, පාවට්ටා මුල්, නෙල්ලි, ඉකිරි මුල්, අගිල්, කුරුඳු පොතු, මේවා කලඳ බැගින් ගෙන වතුර පත 8 - 1 ට සකාරා පෙරා උදේට එලඟි තෙල් මීපැණි දමා බොනවා. සවසට සීනි මීපැණි දමා බොනවා. උදේ 9 ට, රෑ 9 ට, රශායන බෙත් වන ගජකේෂරිය, මේහාංකුෂය, කලෂානාවලේහය, ශාතාවරී මෝදකය, ච්‍යවන ප්‍රාසාව ලේහය වැනි සපයා ගතහැකි බෙතකින් කලන් 1 ක් ඉදුනු කෝලිකුට්ටු ගෙඩියක් සමග කාලා කිරි වර්ගයක් බොන්න.

දවල්ට රෑට: කෑමට පෙර අශ්වාගන්ධාරිෂ්ඨය, දශමූලාරිෂ්ඨය, බාලාරිෂ්ඨය හෝ අර්ජුනාරිෂ්ඨය වැනි අරිෂ්ඨයක් මෙස හැඳි 1 ක් පමණ බීම හොඳයි.

**පිට ගාන තෙල් වර්ග:**

සිඩාර්ථය, රතිමදන මහාමාෂ, නාරායන දශවග ප්‍රමේහ තෙල, බලා තෙල, අශ්වගන්ධා තෙල, බලා කෝරණ්ඩ, වැනි තෙලක් කොඳු ඇටපෙල දිගට හන්දි ස්ථානවල ගාලා උණු බත් පොට්ටනියකින් තැවීම හොඳයි.

තහර බලකාරක එලු මස්, කුකුල් මස්, සුප් වර්ග, කිරි වර්ග, දවල් ආහාර වේල සමග ගැනීම හොඳයි.

**ඝෘත බෙත් වර්ග,**

මහා පක්ෂාගාතාදි ඝෘතය, අශ්වගන්ධා ඝෘතය, වාගලපාදි ඝෘතය, දශමූලාදි ඝෘතය, වැනි බෙතක් කලක් පාවිච්චි කිරීමද අංශභාග රෝගීන්ට ගුණදෙන බෙත් වගය. මෙ බෙත් වර්ග විශ්වාශදයක තැනකින් ලබාගන්න අවශ්‍ය උපදෙස් ඇතොත් ලියා අසන්න.

මීට,

වෛද්‍යාචාර්ය, එච්. පී. ආර්. ධර්මරත්න

**පෙරදිග චිකිත්සාගාරය,**

කටුපොත

## අංශභාග හා වාත රෝගීන්ට

# තොලේ! බලේ!!

මුල සිට අග දක්වා හොඳින් කියවා තේරුම් ගන්න.

අපෙන් ප්‍රතිකාර ගැනීම සඳහා ලංකාවේ නොයෙක් පළාත්වල සිට විස්තර අසා එවන රෝගීන්ගේ දැනගැනීම සඳහා මෙම විස්තර පත්‍රිකා ඉතා කෙටියෙන් ඔබ අතට පත්කරන්නෙමු.

### අපේ වෙදකමේ පලපුරුද්ද හා ඉතිහාසය.

ඇත්ත වශයෙන්ම දැනට අවුරුදු 35 ක පමණ කාලයක සිට වෛද්‍ය සේවයෙහි යෙදී සිටින අපිට රෝගීන් වශයෙන් ලක්ෂයකට 10000, අධික රෝගී සංඛ්‍යාවකට ප්‍රතිකාර යෙදීමට හා උපදෙස් දීමට සිදුවූ බව අපේ සංඛ්‍යා ලේඛණ අනුව ඉදිරිපත් කළ හැක.

ඒ රෝගීන් අතුරෙන් ඉතාම දුඃඛදායක පීඩාකාරී අසනීපයක් වශයෙන් හා සුවකිරීම සඳහා නොයෙක් තෙල් බේත් උපදෙස් දීමට සිදුවූ එකම අසනීපය නම් මේ පක්ෂඝාතය නොහොත් අංශභාග වාත රෝගයයි.

මේ අංශභාග, පක්ෂාඝාත රෝගීන්ට වෙදකම් කරන සෑම අවස්ථාවකම කල්පනා කිරීමට අත්හද බැලීමට සිදුවූයේ ඒ රෝගීන්ට සම්පූර්ණ සුවය හා සැනසීම ලබාදීමට කුමන අන්දමේ බේත් වර්ග යෙදිය යුතුද? යන ප්‍රශ්නය හා ඒවා ගැන සොයා බැලීමට සිදුවීමය.

ඊට හේතුව වෛද්‍ය ශාස්ත්‍රයේ නොයෙක් තෙල් බෙහෙත් විදීම, කටු ගැසීම, පංචකර්ම වැනි වෛද්‍ය ක්‍රම ඇතත් මේ අංග භාග වාත රෝග සඳහා ස්ථිර ගුණදෙන රෝගීන්ට පහසුවන අන්දමට යෙදීමට බේත් පංතියක් අත් හද බැලීමට අපි නිතරම කල්පනා කළෙමු. ඒ සමගම රෝගීන්ට යොද අත්හද බැලුවෙමු.

### බේත් වර්ග හා ඖෂධ සංයෝග.

මෙසේ නොයෙක් බේත් වර්ග යොද අත්හද බලන අපිට පහත සඳහන් බේත් වට්ටෝරු හමුවිය. එනම් දැනට අවුරුදු දශ දහස් ගණනකටත් පෙර

ආයුර්වේදයේ මූලාරම්භයේම හිමාලයේ සිටි ඍෂිවරුන් විසින් මතු අනාගතයේදී මනුෂ්‍යයාට බලපෑන මෙවැනි දුඃසාධ්‍ය රෝග හැදීමට ඉඩ ඇතිබව ඍෂි ඥාණයෙන් වටහාගෙන ඒ සඳහා මිණිස් වර්ගයාගේ සුවසෙත සඳහා වටටෝරු කරන්නට අදහස් කළ මේ මහා පක්ෂාගාතාදී ඝෘතය ඇතුලු රශායන බෙත් පංතිය අපි විසින් සාද අත්හද බැලීමට රෝගීන්ට යෙදීමට අදහස් කළෙමු.

## ඒ බෙහෙත් පංති වලින් ලැබුන ප්‍රථිපල;

පක්ෂාගාතාදී ඝෘත තෙල ඇතුලු බෙත් පංතිය විශාල මහන්සියක් හා පරිශ්‍රමයක් දරා සාද අපෙන් ප්‍රතිකාර ගැනිමට පැමිණෙන ඒ දුඃසාධ්‍ය පක්ෂාගාත අංශභාග හා එවැනි නහර දුර්වල ශරීරය අබල දුබල අතපය කොරවූ මූන කට ඇදවූ. ඇස් වපරවූ, කථාව ගොලුවූ, ශරීරයේ අතපය අප්‍රාණිකවූ සප්තධාතු හීණව නෂ්ඨකාම ලිංගික දුර්වලකම් ආදියෙන් පෙළෙනා අලුත් හා නිදන්ගත රෝගීන්ට නොකඩවා යෙදුවෙමු.

එවිට එම බෙත් වර්ග වලින් රෝගීන්ට ස්ථිර සුවය හා සැනසීම ලබා දීමට ඒකාන්ත වශයෙන් ම පුළුවන් බව අපිට අත්හද බැලීමෙන් ඔප්පු කිරිමට හැකිවිය.

ඉන්පසු එවැනි රෝගීන් දශ දහස් ගණනකටත් අධික ප්‍රමාණයකට අපි මේ බෙත් පංතිය යොද සුවපත්කර ඇතිබව අවංක වශයෙන් රෝගීන්ට ප්‍රකාශ කරන්නෙමු.

## අංශභාග හා වාත රෝගීන්ට තෙලේ බලය යෙදෙන්නේ කෙසේද?

අද ලොවපුරා ඇති කාර්මික යන්ත්‍ර ක්‍රියාකිරීම සඳහා ඛණිජ තෙල් වර්ග ප්‍රයෝජනයට ගන්නා බව ඔබහැම දන්නා කරුණකි. ඒ ඛණිජ තෙල් වල ක්‍රියාකාරිත්වය නිසා සියුම් යන්ත්‍රයක් පවා ක්‍රියාත්මක කර මනුෂ්‍යයාගේ ප්‍රයෝජනයට යොදගැනීමට හැකිබව පෙනේ.

නමුත් මේ ඛණිජ තෙල් වර්ග හිස්වූ විට හෝ අඩුපාඩුවූ විට කාර්මික ඇන්ජින් නවතී.

ඒ අයුරින්ම අපේ ශරීරවල ඇති ඉන්ද්‍රියය නැමැති ශරීරය ක්‍රියාකරවන ඇන්ජින් නොහොත් ග්‍රන්ථි හා ස්නායු පද්ධති ක්‍රියාකරවීමට අවශ්‍ය සප්ත ධාතු හා ඒවා උපදවන තෙල් හා පෝෂ්‍ය පිණ්ඩ පදර්ථ ශරීරයට අඩුපාඩු වනවිට ශරීරයේ ශක්තිය හා ක්‍රියාකරිත්වය පාලනය කරවන ග්‍රන්ථි නැමැති

ඇන්ජින් අඩපණව නහර ස්නායු බුරුල්වී වායු පීඩන වැඩිවීමට පටන්ගනී.

**තෙල් කොටස් වලින් ශරීර ශක්තිය හා වාත රෝග සුවවන්නේ කෙසේද?**

මිනිස් ශරීරයට තෛල පදර්ථ ගැනීමෙන් උපදින මේද හා පිෂ්ඨ කොටස් වලින් ශරීරයේ නහර හා මාංශ පේශි ශක්තිමත් වීමත් සමග සන්ධි ස්ථාන වල ඇට මිදුලු ලියලීම සිදුවේ. ශරීරයේ පිටතින් තෙල් ගෑමෙන් පේශි සච්චි නහර දිගහැරී වායු කෝෂ ප්‍රාණවත් කරයි. සන්ධි බන්ධන මොලොක්වී නැමීම දිගහැරීමේ පහසුව ඇතිකරයි.

**මහා පක්ෂාගාතාදි තෛල හා රශායන බෙත් පංතිය**

ඖෂධ වර්ග සියයකටත් අධික ප්‍රමාණයක් සකාරාගත් ඖෂධ ක්ෂාරය තෙල් වර්ග යොද සකාරාගත් තෙල හා රශායන ඖෂධ සමග සංයෝග කල රශායනය ද වශයෙන් සංයෝග කීපයක් බෙත් පන්තියට අඩංගුවේ.

මේ කාලයේ අධික ඖෂධ මිල නිසා දින 15 ක බෙත් පන්තියට රු: ............ක්ද මසක බෙත් වලට රු............ක්ද වේ. තැපැල් ගාස්තු හා පැක් කිරීමට රු. ..........ක් අමතරව වැයවේ.

මෙම බෙත් පංතිය ලබාගැණීම සඳහා පැමිණ රෝගී පරීක්ෂණයෙන් පසු ලබාගන්න නැතහොත් තැ: ගා: සමග අවශ්‍ය මුදල් සමග එවා බෙත් පංතිය ලබාගන්න.

මාස 1 හමාරක් නොකඩවා බෙත් පංතිය ගැනීමෙන් අංශභාග වාත රෝගය සම්පූර්ණයෙන් සුවකරගැනීමට පුළුවන් බව ස්ථිර වශයෙන්ම සඳහන් කලහැක.

ලියුම් හා මුදල් ඕඩර් මෙසේ එවන්න,

වෛද්‍යාචාර්ය, **එච්. පී. ආර්. ධර්මරත්න**

**පෙරදිග චිකිත්සාගාරය.**

**කටුපොත.**

# විශේෂයෙන් සැලකිය යුතු කරුණක්.

මේ කාලයේ අධික ඖෂධ මිල නිසාත් රෝගීන්ට ඉතා හොඳ බෙ වර්ග ලබාදී ඉක්මනින් සුවපත් කිරීමට අදහස් කරන අපි ඉතාම පිරිසිදු දු ලභ ඖෂධ වර්ග සපයා අපේ බේත් වර්ග සාදන්නෙමු. එබැවින් ඒ සඳහ වැයවන බේත් බඩුමිල කුලී දර වැනි අධික වියදම් දැරීමට සිදුවන නිසා බේත් වල මිළ ගණන් වරින් වර වැඩිවී හා ඒවාට යන වියදම් සලකා අපේ වෙදකමේ නඩත්තුව හා ගරුත්වය රැකෙන අන්දමට තෙල් බේත් සාද රෝගීන් සුවපත් කිරීමට අදහස් කරණ බැවින් බේත් වලට මුදලක් කාලයේ හැටියට අය කලාට රෝගීන් අමනාප නොවන්න.

# ඇදුම, ඇදුම, ඇදුම,

ඇදුම, වනාහි අද ලංකාවේ නොයෙක් පළාත්වල ස්ත්‍රී පුරුෂ ලොකු කුඩා තරුණ මහලු සියලු දෙනාටම සමානව බලපාන, හිතට ගතට දුක් දෙන රෝගයකි.

මෙම රෝගය සෑදුන බොහෝ රෝගීන් අසනීපය නිශ්ශ්‍යාවට සුව කර ගැනීමට බැරිකම නිසා, නොයෙක් අන්දමේ හදිසි ක්‍රියාකාරි, ඉක්මන් සුවය ගෙන දෙන බෙත් වගී ගනිති. එසේ ගන්නා බෙත් වගී නිසා. පෙනහලුවල ගලනාලයේ හා ස්වර කෝෂවල එකතුව ඇති දියර සෙම, වියලි කැටි ගැසී වායු කෝෂවල ඉටිබෙන්, ඇලී බැදී, හුස්ම ගැනීමේ පහසුව තාවකාලික ඇති වේ.

නමුත් වායු කෝෂවල බැදී ඇති සෙම, සම්පූර්ණයෙන් පැසවා ඉවත්නොවීම නිසා නැවත නැවතත් සෙම උගුරේ හා පෙනහලුවල සෙම දියවී හිරවීමට පටන් ගනී. එවිට වායුව තෙර පීම නිසා ඇදුම රෝගය වරින් වර බලපෑම සිදුවෙ.

තවද අව්ව ශිතලවැදිම පිණී බෑම නිදි මැරීම ශිතල උෂ්ණ ආහාරපාන ගැණීම ඇල්දිය නෑම සිදුවන විට සෙම්කෝප වී වායුව වැඩිවන විට පෙනහලු වලට සුළං ගෙනයන ස්වර කෝෂ සෙමින් හිරවී හුස්ම ගැනිමට අපහසු වේ.
ඒ සමගම, අමතරව සෙම් ගෙඩි ඒම නාසයේ මස් දළු මතුවීම, කට ගද ගැසීම, නිතර, හෙම්බිරිසාව ඒම, පපුවේ ශබ්දය, කැක්කුම, හතිය කන් කැසීම, දත් මුල් දියවීම, අර්ධ කපාල පීණස් වාතය, කටට කෙල ඉනීම, උගුර බැරුන්ඩිය, කට හඩ වෙණස්වීම, නින්ද අඩුකම, කෑම අරුචිය, වියලි කැස්ස, ආදී රෝග ලක්ෂණද පහලවේ.

ඒ අන්දමට, බලපෑම් ඇති අලුත් හෝ පැරණි, ඇදුම රෝග කොපමණ දුඃ සාධ්‍ය වුවත්, අපේ ස්වාසාන්තක චූර්ණය ඇතුළු බෙත් පංතිය කලක් ගැනීමෙන් නිෂ්ශ්‍යාවටම සුවපත් වේ.
බෙත් පංතීය දින 15 රු: 45/= රෝගයේ බලපෑමඅනුව, යෙදිය යුතු බෙත් වල වටිනාකම අනුව බෙත් වලට අයකිරීමට සිදුවන බව කරුණාවෙන් සලකන්න.

**බෙත් වර්ග එවන විට පාවිච්චි විස්තර එවනු ලැබේ.**

ලියුම් හා මුදල් ඔඩර් මෙසේ ලියන්න

වෛද්‍යා වායසී:- එච්. පී. ආර්. ධර්මරත්න

## පෙරදිග චිකිත්සාගාරය

කටුපොත.

කටුපොත පෙරදිග චිකිත්සාගාරයට

# මාර්ග විස්තරය.

රෝග පීඩාවලදී දුර බැහැර ප්‍රශ්නයක් නොවේ

**හමුවීම:** කටුපොත පෙරදිග චිකිත්සාගාරයේදී පමණයි

[redacted]

**පිහිටීම:** කටුපොත සතුන් වෙළඳපොළ අසලම

නාරම්මල බස් නැවතුම්පොළේ සිට [redacted] [illegible]

කොළඹ සිට කුරුණෑගලට මීණුවන්ගොඩ හරහා පැමිණෙන බස්වලින් පැමිණ නාරම්මල් බස් නැවතුම්පලින් බසින්න අනුරාධපුර, අම්පාර, පොළොන්නරුව, මාතලේ කැකිරාව, රාජාංගනය, පදවිය, කන්තලේ, ත්‍රිකුණාමල, වවුනියාව, පලාත්වල රෝගීන් කුරුණෑගලට පැමිණ නාරම්මල හරහා මාදම්පෙ, කුලියාපිටිය, කොළඹ මීගමුව, බස්වල පැමිණ නාරම්මල බස් නැවතුම් පලින් බසින්න මාදම්පෙ, හලාවත, පුත්තලම මීගමුව, රෝගීන් කුලියාපිටියට පැමිණ නාරම්මල හරහා කුරුණෑගලට එන බස්වල පැමිණ නාරම්මලින් බසින්න නුවරඑළිය, හැටන් ගම්පොල තලවාකැලේ; පලාත්වල රෝගීන් නුවර සිට කුරුණෑගලට එන බස්වල පැමිණ නාරම්මලට රුවන්වැල්ල, අවිස්සාවේල්ල, රත්නපුර, පලාත්වල රෝගීන් කෑගල්ල-පොල්ගහවෙල හරහා නාරම්මලට එන්න

## කටුපොත බෙහෙත් ශාලාවට මාර්ග විස්තරය

ඉහත සඳහන් මාර්ග විස්තර අනුව නාරම්මලට පැමිණ කටුපොත හරහා වාරියපොලට පැමිණෙන බස්වල පැමිණ කටුපොත නගරයෙන් බැස පෙරදිග බෙහෙත් ශාලාවට එන්න.

මීට,
වෛද්‍යාචාර්ය

**එච්. පී. ආර්. ධර්මරත්න**

පෙරදිග චිකිත්සාගාරය

කටුපොත - තැපැල්

ශ්‍රී වර්ධන මුද්‍රණාලය - කටුපොත